8137



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2557 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2013 (2014)** **S 2**

**(02) බුද්ධ ධර්මය හා පාලි භාෂා පරිචය**

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් එක් ප්‍රශ්නයක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (අ) දුක ඇතිවීම හා නැවැත්වීම පිළිබඳ ව බුදුරදුන් දේශනා කරන ලද ධර්ම සංකල්පය නම් කරන්න. (ලකුණු 02 යි)
   (ආ) එයට අදාළ ප්‍රත්‍යයමාලාව සංඛ්‍යාත්මක වශයෙන් දක්වා, එය නම් වශයෙන් ලියන්න. (ලකුණු 04 යි)
   (ඉ) මේ එක් එක් ප්‍රත්‍යයක් තවත් ප්‍රත්‍යයකට සම්බන්ධ වන පැවැත්ම හඳුන්වා ඇත්තේ කවර නමකින් දැයි ලියා ඒ සඳහා දක්වා ඇති උපමාව පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ඊ) "බෞද්ධ පරමාර්ථය පුනර්භවය නැති කිරීමයි" පහදන්න. (ලකුණු 08 යි)

2. (අ) බෞද්ධ විමුක්ති මාර්ගය පියවර තුනකින් යුක්තය. ඒ පියවර තුන නම් කරන්න. (ලකුණු 02 යි)
   (ආ) එම පියවරට අයත් අංග අට දක්වා, කැමැති අංග **දෙකක්** හඳුන්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) එකී අංග අට ඇතුළත් ප්‍රථම සූත්‍ර දේශනාවේ නම ලියා, එය කවර පිරිසකට කොතනක දී දේශනා කරන ලද්දේ දැයි පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ඊ) කායික, වාචසික සමාචාරයන් සකස් කර ගැනීමට අවශ්‍ය වන පියවර කුමක් දැයි දක්වා, එමගින් කායික, වාචසික සමාචාරය ඇති කරගන්නා අයුරු පහදන්න. (ලකුණු 08 යි)

3. (අ) බුදු දහමට අනුව කර්මය සක්‍රිය කරවන චෛතසිකය නම් කරන්න. (ලකුණු 02 යි)
   (ආ) එම චෛතසිකය මගින් සියලු ක්‍රියා හොඳ-නරක වශයෙන් බෙදෙන පදනම දක්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) එකී පදනම මත තුන් දොරින් සිදු කරන නරක ක්‍රියා බෙදා පෙන්වන්න. (ලකුණු 06 යි)
   (ඊ) නරක ක්‍රියාවන්ගෙන් ඈත්ව හොඳ ක්‍රියාවන්හි යෙදීමෙන් පුද්ගල ජීවිතය සරු කර ගත හැකි අයුරු පහදා දෙන්න. (ලකුණු 08 යි)

4. (අ) ත්‍රි ලක්ෂණයෙන් නිත්‍ය, ස්ථිර, සදාකාලික යමක් ලොව නැති බව පෙන්වා දෙන ලක්ෂණය නම් කරන්න. (ලකුණු 02 යි)
   (ආ) එම ලක්ෂණයන්ගෙන් දෙකක් හඳුන්වා දෙන්න. (ලකුණු 04 යි)
   (ඉ) සංඛත (සංස්කාර) ධර්මයන් බෙදෙන ස්කන්ධ පංචකය දක්වා, ඒවායේ ඇති එකම ලක්ෂණය කවරේ දැයි පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (ඊ) ත්‍රි ලක්ෂණය පිළිබඳ ව අවබෝධයක් ඇති කර ගැනීම දුකින් මිදීමට පමණක් නොව, එදිනෙදා ජීවිතය මනාව පවත්වාගෙන යාමට ද අනුබලයක් දෙයි. පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

## II කොටස

5. (අ) සිත එකඟ කිරීම සඳහා ආශ්වාස ප්‍රශ්වාස දෙක යෝග්‍ය අරමුණක් කරගත් භාවනාව නම් කරන්න. (ලකුණු 02 යි)
   (ආ) සම්මා සති, සම්මා සමාධි අංග උපයෝගී වන භාවනාවේ නම ලියා, එම භාවනාව හඳුන්වන්න. (ලකුණු 04 යි)
   (ඉ) අෂ්ට සමාපත්ති නම් වශයෙන් දක්වන්න. (ලකුණු 06 යි)
   (ඊ) භාවනාව මගින් චිත්තේකාග්‍රතාව (සිතේ එකඟකම) ඇති කර ගැනීම නිසා ශිෂ්‍ය ජීවිතයකට ලැබෙන යහපත දක්වන්න. (ලකුණු 08 යි)

[ දෙවන පිටුව බලන්න.

**6.** (අ) භූත රූප නම් කරන්න. (ලකුණු 02 යි)

(ආ) ඒවා සැකෙවින් හඳුන්වන්න. (ලකුණු 04 යි)

(ඉ) උපාදාය රූප යනු කවරේ දැයි හඳුන්වා, එයට අයත් රූප සංඛ්‍යාවත්, විෂය රූප **හතරත්** නම් කරන්න. (ලකුණු 06 යි)

(ඊ) රූප යන පදය අභිධර්මයෙහි විවරණය කර ඇති අයුරු ලියා, චිත්ත-චෛතසික සඳහා භාවිත කරන වෙනත් නමක් පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

## III **කොටස**

**7.** පහත සඳහන් පාලි ගාථා සිංහලට නගන්න.

(අ) "පහූත භක්ඛෝ භවති - විප්පවුත්තෝ සකා ඝරා
බහූ නං උපජීවන්ති - යෝ මිත්තානං න දූභති"

(ආ) "යං යං ජනපදං යාති - නිගමේ රාජධානියෝ
සබ්බත්ථ පූජිතෝ හෝති - යෝ මිත්තානං න දූභති"

(ඉ) "නාස්ස චෝරා පසහන්ති - නාතිමඤ්ඤේති ඛත්තියෝ
සබ්බේ අමිත්තේ තරති - යෝ මිත්තානං න දූභති"

(ඊ) "අක්කුද්ධෝ සඝරං ඒති - සභාය පටිනන්දිතෝ
ඤාතීනං උත්තමෝ හෝති - යෝ මිත්තානං න දූභති"

(උ) "සක්කත්වා සක්කතෝ හෝති - ගරු හෝති සගාරවෝ
වණ්ණකිත්ති භතෝ හෝති - යෝ මිත්තානං න දූභති"

(ලකුණු 04 × 5 = 20 යි)

**8.** පහත දැක්වෙන පාලි ඡේද සිංහලට නගන්න.

(අ) තතො තස්මිංයෙ'ව වස්සෙ විහාරදෙවී අඤ්ඤං පුත්තං විජායි. තස්ස තිස්සො'ති නාමමකංසු.

(ආ) කාකවණ්ණතිස්ස මහාරාජා කිර විහාරදෙවියා සද්ධිං රොහණෙ රජ්ජං කාරෙන්තො අනොපමං මහාදානං පවත්තෙන්තො මහාගාමේ පටිවසති.

(ඉ) අථ කුමාරො පිතුනො කුජ්ඣිත්වා මලයං අගමාසි. තෙ තස්ස පිතරි දුට්ඨත්තා දුට්ඨගාමිණී'ති වොහරිංසු.

(ඊ) තතො කාකවණ්ණරාජා දසමහායොධෙ සංගණ්හිත්වා පුත්තානං වුපට්ඨාපෙසි.

(උ) ඒවං මේ සුතං, ඒකං සමයං භගවා සාවත්ථියං විහරති. ජේතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ.

(ලකුණු 04 × 5 = 20 යි)

***